අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25-C S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

**නූතන ලෝක ඉතිහාසය - ක්‍රි.ව. 1500 සිට 1989 දක්වා**

**විභාග අංකය:** ..................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි**. පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස**, **II කොටසේ** පිළිතුරු පත් සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ**. එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) හිස්පැනියෝලා (2) කියුබා (3) බහමා (4) ජැමෙයිකා (5) ඇලස්කා (.........)

2. (1) සුපීරියර් විල (2) බයිකල් විල (3) මිචිගන් විල (4) ඊරි විල (5) ඔන්ටාරියෝ විල (.........)

3. (1) අයිතිවාසිකම් පනත (2) අමෙරිකා ස්වාධීනතා ප්‍රකාශය (3) මිනිස් අයිතිවාසිකම් පනත (4) සුදු ඔස්ට්‍රේලියානු ප්‍රතිපත්තිය (5) මානව අයිතිවාසිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශය (.........)

4. (1) නිකොලස් කොපර්නිකස් (2) උල්රිච් ස්විංලි (3) ජොහැන්නස් කෙප්ලර් (4) පැරසෙල්සස් (5) විලියම් හාවේ (.........)

5. (1) සුළං මෝල (2) දුවන නඩාව (3) කටින ජෙනිය (4) ජල රාමුව (5) වාෂ්ප එන්ජිම (.........)

6. (1) ලෆායට් (2) මිරාබෝ (3) චාල්ස් කැලෝන් (4) අබේ සියෙස් (5) රොබෙස්පියර් (.........)

7. (1) ආර්ජන්ටිනාව (2) ජෝර්දානය (3) සිරියාව (4) ඉරාකය (5) ඉරානය (.........)

8. (1) සර්බියා (2) ක්‍රොඒෂියා (3) මොන්ටිනීග්‍රෝ (4) බෙල්ග්‍රේඩ් (5) බොස්නියා - හර්සිගොවිනා (.........)

9. (1) රාජේන්ද්‍ර ප්‍රසාද් (2) සර්වපල්ලි රාධාක්‍රිෂ්ණන් (3) ලාල් බහදූර් ශාස්ත්‍රී (4) නීලම් සන්ජීව රෙඩ්ඩි (5) රාමස්වාමි වෙන්කටරාමන් (.........)

10. (1) ඇලෙක්සි කොසිගින් (2) ලියොනිඩ් බ්‍රෙෂ්නෙෆ් (3) ආන්ද්‍රපොෆ් (4) චර්නන්කෝ (5) ලෙච් වලේසා (.........)

[දෙවැනි පිටුව බලන්න.

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එක්** යුගලයක පද එකිනෙකට **නොගැළපේ**. එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.**
(1) නව ලෝකය - අමෙරිකා මහාද්වීපය
(2) සාප්පුකාර ජාතිය - එංගලන්තය
(3) නිදා සිටින යෝධයා - චීනය
(4) හුදු භූගෝලීය ප්‍රකාශනයක් පමණකි - ජර්මනිය
(5) කිරුළේ මාණික්‍යය - ඉන්දියාව (.........)

**12.**
(1) සූර්යකේන්ද්‍රීය මතය - ටොලමි
(2) ගුරුත්වාකර්ෂණය - ඇයිසැක් නිව්ටන්
(3) පරිනාමවාදය - චාල්ස් ඩාවින්
(4) රේඩියම් සොයා ගැනීම - මාරි කියුරි
(5) සාපේක්ෂතාවාදී න්‍යාය - ඇල්බට් අයින්ස්ටයින් (.........)

**13.**
(1) රතු කමිස හමුදාව - ගැරිබෝල්ඩි
(2) සුදු හමුදාව - ස්ටාලින්
(3) කළු කමිස හමුදාව - මුසෝලිනි
(4) දුඹුරු කමිස හමුදාව - හිට්ලර්
(5) රතු හමුදාව - මාවෝ සේතුං (.........)

**14.**
(1) පාකිස්තානය - මොහමඩ් අලි ජින්නා
(2) බුරුමය - උ නු
(3) මැලේසියාව - තුන්කු අබ්දුල් රහමන්
(4) ඉන්දුනීසියාව - හෝ චි මිංහ්
(5) බංගලාදේශය - ෂීක් මුජිබර් රහමන් (.........)

**15.**
(1) සයිප්‍රස් - මකාරියෝස්
(2) කොංගෝ - පැට්‍රිස් ලුමුම්බා
(3) නයිජීරියා - ක්වාමේ නිකෲමා
(4) උගන්ඩා - මිල්ටන් ඔබෝටේ
(5) සිම්බාබ්වේ - රොබට් මුගාබේ (.........)

● අංක **16** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමග කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරුව, **X** තීරුව සමග ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | පුනරුදය | A | ස්පාඤ්ඤය |
| (ii) | ආගමික ප්‍රතිසංස්කරණය | B | රුසියාව |
| (iii) | දේශ ගවේෂණ | C | එංගලන්තය |
| (iv) | කාර්මික විප්ලවය | D | ජර්මනිය |
| (v) | සමාජවාදී විප්ලවය | E | ඉතාලිය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**17.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | නිකොලෝ මකියාවෙලි | A | 'අධිරාජ්‍යවාදය යනු ධනවාදයේ උච්චතම අවස්ථාවයි.' |
| (ii) | ජීන් ජැක් රූසෝ | B | 'සියයක් මල් පිපේවා, එලෙස ම සියයක් චින්තන ගුරුකුල ගැටේවා!' |
| (iii) | කාල් මාක්ස් | C | 'සියලු රටවල කම්කරුවනි, එක්වන්න!' |
| (iv) | ව්ලැඩිමීර් ලෙනින් | D | 'කුමාරයා සිංහයා සහ හිවලා අනුකරණය කළ යුතු ය.' |
| (v) | මාවෝ සේ-තුං | E | 'නිදහස්ව උපත ලබා ඇති නමුත් මිනිසා හැමතැන ම යදම්වලින් බැඳ තබා ඇත.' |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

18.

| X | Y |
|---|---|
| (i) ලූතර් | A කැනිං |
| (ii) රිචලියු | B චේ ගුවාරා |
| (iii) කාසල්රී | C චූලාලොංකෝර්ණ් |
| (iv) මොංකුට් | D කැල්වින් |
| (v) කස්ත්‍රෝ | E මැසරින් |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

19.

| X | Y |
|---|---|
| (i) 'රාජ්‍යය නම් මම වෙමි.' | A ෆ්ලොරන්ස් නයිටිංගේල් |
| (ii) විප්ලවයේ දරුවා | B මාගරට් තැචර් |
| (iii) පහන අතින් ගත් කාන්තාව | C වික්ටෝරියා රැජින |
| (iv) ඉන්දියාවේ අධිරාජිණිය | D නැපෝලියන් බොනපාට් |
| (v) යකඩ ගැහැණිය | E දාහතරවන ලුවී |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

20.

| X | Y |
|---|---|
| (i) තෝමස් හොබ්ස් | A ගීතාංජලී |
| (ii) මොන්ටෙස්කියු | B ඉන්දියාව සොයා ගැනීම (Discovery of India) |
| (iii) රබීන්ද්‍රනාත් තාගෝර් | C ලෙවියතාන් |
| (iv) ජවහර්ලාල් නේරු | D ඉතිහාසය යනු කුමක් ද? |
| (v) ඊ.එච්. කාර් | E නීතියේ සාරය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

21.

| X | Y |
|---|---|
| (i) ඒබ්‍රහම් ලින්කන් | A පස් අවුරුදු සැලසුම් |
| (ii) මහත්මා ගාන්ධි | B මහා ඉදිරි පිම්ම |
| (iii) ජෝශප් ස්ටාලින් | C පංච සීල හෙවත් පංච ප්‍රතිපත්ති |
| (iv) අච්මඩ් සුකර්ණෝ | D අවිහිංසාවාදය |
| (v) මාවෝ සේතුං | E වහල් ක්‍රමය අහෝසි කිරීම |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

22.

| X | Y |
|---|---|
| (i) තායිලන්තය | A බැග්ඩෑඩ් |
| (ii) ඉරානය | B ජකර්තා |
| (iii) ඉරාකය | C කරච්චි |
| (iv) පාකිස්තානය | D බැංකොක් |
| (v) ඉන්දුනීසියාව | E ටෙහෙරාන් |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

23.

| X | Y |
|---|---|
| (i) ජාතීන්ගේ සංගමය | A පැරීසිය |
| (ii) එක්සත් ජාතීන්ගේ සංවිධානය | B රෝමය |
| (iii) ජාත්‍යන්තර අධිකරණය (ICJ) | C හේග් |
| (iv) එක්සත් ජාතීන්ගේ අධ්‍යාපන, විද්‍යාත්මක සහ සංස්කෘතික සංවිධානය (UNESCO) | D ජිනීවා |
| (v) ලෝක ආහාර වැඩපිළිවෙල (WFP) | E නිව්යෝර්ක් |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

24.

| X | Y |
|---|---|
| (i) ස්ටර්ලිං පවුම | A ජපානය |
| (ii) රූබල් | B එක්සත් රාජධානිය |
| (iii) යෙන් | C චීනය |
| (iv) යුවාන් | D ඉන්දියාව |
| (v) රුපියා | E රුසියාව |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

[හතරවැනි පිටුව බලන්න.

| | X | | Y |
|---|---|---|---|
| **25.** (i) | ගෝල්ඩ් කෝස්ට් | A | ටැන්සානියාව |
| (ii) | බෙල්ජියන් කොංගෝ | B | බංගලාදේශය |
| (iii) | ටැංගනයිකා | C | ඝානා |
| (iv) | නැගෙනහිර පාකිස්තානය | D | සිම්බාබ්වේ |
| (v) | රොඩේසියාව | E | සයරේ |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

- අංක **26** සිට **30** තෙක් සෑම ප්‍රශ්නයකට ම නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**26.** **'විනස්ගේ උපත' නම් චිත්‍රය සිතුවම් කළ ෆ්ලොරන්ස්වාසී ශ්‍රේෂ්ඨ කලාකරුවා කවුද?**
(1) මසච්යෝ (2) බොටිචෙලි
(3) ලෙනාර්ඩෝ ඩා වින්චි (4) රෆායල්
(5) මයිකලැංජලෝ (.........)

**27.** **1649 වර්ෂයේ දී ලන්ඩන් නගරයේ දී ප්‍රසිද්ධියේ මරණයට පත් කරන ලද එංගලන්තයේ රජු කවුද?**
(1) පළමුවන ජේම්ස් (2) පළමුවන චාල්ස්
(3) දෙවන චාල්ස් (4) තුන්වන චාල්ස්
(5) පස්වන චාල්ස් (.........)

**28.** **ජාතීන්ගේ සංගමය පිහිටුවීමට යෝජනා කළ අමෙරිකා එක්සත් ජනපද ජනාධිපතිවරයා කවුද?**
(1) වුඩ්රෝ විල්සන් (2) වොරන් හාඩිං
(3) කැල්වින් කූලිජ් (4) හර්බට් හූවර්
(5) ෆ්‍රැන්ක්ලින් රූස්වෙල්ට් (.........)

**29.** **දෙවන ලෝක යුද්ධ සමයේ බ්‍රිතාන්‍යයේ අගමැති වූයේ කවුද?**
(1) ලොයිඩ් ජෝර්ජ් (2) රැම්සේ මැක්ඩොනල්ඩ්
(3) ස්ටැන්ලි බෝල්ඩ්වින් (4) නෙවිල් චේම්බර්ලේන්
(5) වින්ස්ටන් චර්චිල් (.........)

**30.** **මහජන චීන සමූහාණ්ඩුවේ ප්‍රථම අගමැති වූයේ කවුද?**
(1) සුන් යත් සෙන් (2) චියැං කායිෂෙක්
(3) මාවෝ සේ-තුං (4) චෞ එන් ලායි
(5) ඩෙං ෂියාඕ පිං (.........)

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A)**, **(B)**, **(C)** හා **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක්** හෝ **කිහිපයක්** හෝ නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර තෝරා,
**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද,
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ........... **5** ද **වරහන තුළ** ලියන්න.

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**31.** **පහත දැක්වෙන ඒවා අතුරෙන් ප්‍රංශ විප්ලවයේ ප්‍රධාන අවස්ථා කවරේ ද?**
(A) ජාතික මන්ත්‍රණ සභාව පිහිටුවීම (B) බැස්ටීලය බිඳ හෙළීම
(C) භීම සමය (D) අධ්‍යක්ෂ මණ්ඩලයේ පාලනය (.........)

**32.** **පහත දැක්වෙන්නන් අතුරෙන් බ්‍රිතාන්‍ය ඉන්දියාවේ අග්‍රාණ්ඩුකාරවරු කවරහු ද?**
(A) ආතර් වෙලෙස්ලි (B) තොමස් මැකොලේ
(C) විලියම් බෙන්ටින්ක් (D) මවුන්ට්ස්ටුවර්ට් එල්ෆින්ස්ටන් (.........)

**33.** **පහත දැක්වෙන්නන් අතුරෙන් ඉන්දියානු ජාතික සංගමයේ ආරම්භක සාමාජිකයෝ කවරහු ද?**
(A) දඩාබායි නඖරෝජි (B) සුරේන්ද්‍රනාත් බැනර්ජි
(C) ජය ප්‍රකාශ් නාරායන් (D) සුබාෂ් චන්ද්‍රබෝස් (.........)

**34.** **පහත දැක්වෙන කරුණු අතුරෙන් පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට තුඩු දුන් හේතු කවරේ ද?**

(A) ඔස්ට්‍රෝ - තුර්කි ගැටුම
(B) යුරෝපීය බලවතුන් අතර පැවති යටත්විජිත තරගය
(C) යුරෝපය බල කඳවුරු දෙකකට බෙදීම
(D) ෆැසිස්ට්වාදයේ හා නට්සිවාදයේ නැගීම (.........)

**35.** **පහත දැක්වෙන්නන් අතුරෙන් එක්සත් ජාතීන්ගේ සංවිධානයේ මහලේකම්වරු කවරහු ද?**

(A) ට්‍රිග්වි ලී
(B) කොන්රාඩ් ඇඩිනුවර්
(C) ඩැග් හැමර්ෂල්
(D) ඇලෙක්සැන්ඩර් ඩුබ්චෙක් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|---|
| **36.** | 'නිදහස, සමානාත්මතාව හා සහෝදරත්වය', උත්කෘෂ්ට විප්ලවයේ ප්‍රධාන සටන් පාඨය විය. | උත්කෘෂ්ට විප්ලවය අවසන් වූ වහාම ඔලිවර් ක්‍රොම්වෙල් සමූහාණ්ඩුවක් පිහිටුවීය. | (.........) |
| **37.** | රොබට් වොල්පෝල් එංගලන්තයේ ප්‍රථම අගමැතිවරයා ලෙස සලකනු ලැබේ. | 1945 දී ක්ලෙමන්ට් ඇට්ලි එංගලන්තයේ කම්කරු පාක්ෂික අගමැතිවරයා ලෙස පත්විය. | (.........) |
| **38.** | මෙයිජි ප්‍රතිස්ථාපනය යටතේ ටොකුගාවා ෂෝගන් පාලනය ශක්තිමත් කරනු ලැබී ය. | දෙවන ලෝක යුද්ධය අවසානයේ ජපානය යටත් වූ පසු, අමෙරිකානු පාලනය යටතේ නව ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවක් හඳුන්වා දෙන ලදී. | (.........) |
| **39.** | හිරෝෂිමාවට හා නාගසාකියට න්‍යෂ්ටික බෝම්බ හෙළීමත් සමග අවසන් වූ දෙවන ලෝක යුද්ධය, මානව ඉතිහාසයේ ඇති වූ වඩාත් ම විනාශකාරී යුද්ධය විය. | දෙවන ලෝක යුද්ධයේ දී මියගිය සංඛ්‍යාව මිලියන පනහක් තරම් ඉහළ යයි ගණන් බලා ඇති අතර එමගින් භෞතික වශයෙන් සිදු වූ විනාශය ගණනය කළ නොහැකි ය. | (.........) |
| **40** | අමෙරිකානු හමුදා ඉවත්වීමෙන් පසු 1976 දී එක්සත් වියට්නාම් සමාජවාදී සමූහාණ්ඩුව ප්‍රකාශයට පත් කරන ලදී. | බ්‍රෙෂ්නෙෆ් අනුගමනය කළ ප්‍රතිපත්ති නිසැකව ම නිරව් යුද්ධය අවසන් කිරීමට මඟ පෑදී ය. | (.........) |

* *


Department of Examinations Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25-C S II

**නූතන ලෝක ඉතිහාසය - ක්‍රි.ව. 1500 සිට 1989 දක්වා**

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ලෝකයේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න**. ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.
   (i) හිමාල කඳුවැටිය (ii) ජාවා (iii) බීජිං (iv) කළු මුහුද
   (v) පෘතුගාලය (vi) මිසිසිපි ගඟ (vii) පැනමා ඇල (viii) ඝානා
   *(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි.)*

2. "යුරෝපා ව්‍යාප්තිය ලෝකයේ බොහෝ ප්‍රදේශවල විශාල වෙනස්වීම් ඇති කළේ ය."
   (i) මුල්කාලීන ගවේෂණවලට ආධාර කළ **එක්** පෘතුගීසි පාලකයකු නම් කරන්න. (ලකුණු 01 යි)
   (ii) මුල්කාලීන ගවේෂණවලට අනුග්‍රහ දැක්වූ **එක්** ස්පාඤ්ඤ පාලකයකු නම් කරන්න. (ලකුණු 01 යි)
   (iii) දේශ ගවේෂණවල ප්‍රධාන අරමුණු සැකෙවින් දක්වන්න. (ලකුණු 03 යි)
   (iv) **එක්කෝ** පෘතුගීසි **නැතහොත්** ස්පාඤ්ඤ යටත්විජිත කටයුතු ඇසුරෙන් යුරෝපා ව්‍යාප්තිය ලොව අන් ප්‍රදේශවල බොහෝ වෙනස්වීම් ඇති කළ ආකාරය විවේචනාත්මකව විමසන්න. (ලකුණු 09 යි)

3. "අමෙරිකන් නිදහස් සටන නූතන ලෝක ඉතිහාසයේ වැදගත් සන්ධිස්ථානයක් සලකුණු කරයි."
   (i) අමෙරිකන් නිදහස් සටන මෙහෙය වූ නායකයා නම් කරන්න. (ලකුණු 01 යි)
   (ii) උතුරු අමෙරිකාවේ පැවති ඉංග්‍රීසි ජනපද **හතරක්** නම් කරන්න. (ලකුණු 02 යි)
   (iii) අමෙරිකන් නිදහස් සටන ඇතිවීමට තුඩුදුන් ආර්ථික සාධක සැකෙවින් දක්වන්න. (ලකුණු 03 යි)
   (iv) අමෙරිකන් නිදහස් සටනේ ප්‍රතිඵල හා බලපෑම් කෙරෙහි අවධානය යොමු කරමින් එහි වැදගත්කම සාකච්ඡා කරන්න. (ලකුණු 08 යි)

4. 1919 සිට 1947 දක්වා වූ කාල පරිච්ඡේදය තුළ ඉන්දියානු ජාතික ව්‍යාපාරයේ ප්‍රධාන අවස්ථා ගෙනහැර දක්වන්න. (ලකුණු 14 යි)

5. (i) රුසියාවේ බොල්ෂෙවික් විප්ලවය ඇතිවීමට තුඩුදුන් ප්‍රධාන සාධක විග්‍රහ කරන්න. (ලකුණු 08 යි)
   (ii) ලෝක ඉතිහාසයෙහිලා බොල්ෂෙවික් විප්ලවය වැදගත් වන අයුරු පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)

6. "දෙවන ලෝක යුද්ධය ඇතිවීම පිළිබඳ වගකීම වර්සායි ගිවිසුම විසින් ම භාරගත යුතු ය."
   (i) මිත්‍ර බලවතුන් විසින් වර්සායි ගිවිසුම අත්සන් කරන ලද්දේ කුමන රටක් සමඟ ද? (ලකුණු 01 යි)
   (ii) පළමුවන ලෝක යුද්ධයේ මිත්‍ර බලවතුන් **දෙදෙනකු** හා මධ්‍ය බලවතුන් **දෙදෙනකු** නම් කරන්න. (ලකුණු 02 යි)
   (iii) වර්සායි ගිවිසුමේ ප්‍රධාන කොන්දේසි සැකෙවින් දක්වන්න. (ලකුණු 03 යි)
   (iv) දෙවන ලෝක යුද්ධය ඇතිවීමට වර්සායි ගිවිසුම කෙතෙක් දුරට හේතු වී දැයි පරීක්ෂා කරන්න. (ලකුණු 08 යි)

7. 1949 තෙක් ඉන්දුනීසියානු ජාතික ව්‍යාපාරයේ ප්‍රධාන අවස්ථා ගෙනහැර දක්වන්න. (ලකුණු 14 යි)

[හත්වැනි පිටුව බලන්න.

**8.** (i) දෙවන ලෝක යුද්ධයේ දී ජපානය අක්ෂ බලවතුන් සමග සම්බන්ධ වීමට පෙලඹ වූ අභ්‍යන්තර හා බාහිර සාධක පරීක්ෂා කරන්න. (ලකුණු 07 යි)

(ii) දෙවන ලෝක යුද්ධ සමයේ ජපානය විසින් අග්නිදිග ආසියාවේ අනුගමනය කළ ආක්‍රමණකාරී ක්‍රියාමාර්ගය සැකෙවින් සමාලෝචනය කරන්න. (ලකුණු 07 යි)

**9.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) ලන්දේසි පෙරදිග යටත් විජිත අධිරාජ්‍යය
(ii) ප්‍රති රෙපරමාදු ව්‍යාපාරය
(iii) 1688 උත්කෘෂ්ට විප්ලවය
(iv) හෝ චි මිංහ්
(v) ඉශ්රායලය බිහිවීම
(vi) චීන සංස්කෘතික විප්ලවය

(එක් කෙටි සටහනකට ලකුණු 07 බැගිනි.)

**(B)** කොරියන් යුද්ධයේ දී හා කොංගෝ අර්බුදයේ දී එක්සත් ජාතීන්ගේ සංවිධානය අනුගමනය කළ ක්‍රියාමාර්ගය විවේචනාත්මකව විමසන්න. (ලකුණු 14 යි)

* * *


Department of Examinations Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| ඉතිහාසය / வரலாறு / History | II | 25-C | S |
|---|---|---|---|

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. 1

විභාග අංකය / சுட்டெண் / Index No. ..............................



අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25-B S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා

විභාග අංකය: ..............................

**උපදෙස්:**

* මෙම කොටසේ ප්‍රශ්න **40**ක් ඇත. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත් සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

* අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) මර්මරා (2) අසෝව් (3) ඊජියන් (4) කැස්පියන් (5) පැසිෆික් (.........)

2. (1) ජිබ්‍රෝල්ටා සමුද්‍ර සන්ධිය (2) බොස්පරස් සමුද්‍ර සන්ධිය (3) මැගලන් සමුද්‍ර සන්ධිය (4) ඩාඩනල්ස් සමුද්‍ර සන්ධිය (5) ඩෝවර් සමුද්‍ර සන්ධිය (.........)

3. (1) ඔලිම්පස් (2) සමෝස් (3) ලෙස්බෝස් (4) ක්‍රෝස් (5) ඩීලෝස් (.........)

4. (1) රාජාණ්ඩුව (2) කතිපයාධිපති ආණ්ඩුව (3) ප්‍රජා පීඩක පාලනය (4) අධිරාජ්‍යය (5) ප්‍රජාතන්ත්‍රවාදය (.........)

5. (1) තර්මොපිලෙයි සටන (2) මැරතන් සටන (3) සලාමිස් සටන (4) ප්ලටෙයා සටන (5) මැජෙන්ටා සටන (.........)

6. (1) ඔගස්ටස් (2) හොරස් (3) ක්ලෝඩියස් (4) කලිගියුලා (5) නීරෝ (.........)

7. (1) ඇකඩෙමි (2) පැලර්මෝ (3) සැලර්නෝ (4) පාවියා (5) පාදුවා (.........)

8. (1) ජෝන් වයික්ලිෆ් (2) ජෝන් හස් (3) මාටින් ලූතර් (4) ඉග්නේෂස් ලොයොලා (5) ජෝන් කැල්වින් (.........)

9. (1) සලි (2) රිචලියු (3) මැසරින් (4) කෝල්බෙයාර් (5) ඩැන්ටන් (.........)

10. (1) බ්‍රිතාන්‍ය පොදු රාජ්‍ය මණ්ඩලය
(2) එක්සත් ජාතීන්ගේ අධ්‍යාපන, විද්‍යාත්මක හා සංස්කෘතික සංවිධානය (UNESCO)
(3) උතුරු අත්ලාන්තික් ගිවිසුම් සංවිධානය (NATO)
(4) වෝර්සෝ ගිවිසුම
(5) යුරෝපීය සංගමය (EU) (.........)

[දෙවැනි පිටුව බලන්න.

- අංක 11 සිට 15 තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නො ගැළපේ**. එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) සියුස් - ජුපිටර්
(2) ඇතීනා - මිනෙර්වා
(3) ඇපොලෝ - ආර්ටිමීස්
(4) ඇප්‍රොඩයිටී - වීනස්
(5) පොසීඩන් - නෙප්චූන් (.........)

**12.** (1) හෙරඩෝටස් - පෙලොපොනීසියානු යුද්ධයේ ඉතිහාසය
(2) ඉබන් ඛල්දූන් - කිතාබ්-අල්-ඉබාර් (විශ්ව ඉතිහාසය)
(3) ෆ්‍රැන්සෙස්කෝ ගුයිසියාඩිනි - ඉතාලියේ ඉතිහාසය
(4) ආර්නෝල්ඩ් ටොයින්බි - ඉතිහාසය පිළිබඳ අධ්‍යයනයක් (A Study of History)
(5) ඊ.එච්. කාර් - ඉතිහාසය යනු කුමක් ද? (.........)

**13.** (1) රෝමය - ටයිබර් ගංගාව
(2) ලිස්බන් - ටාගුස් ගංගාව
(3) ජිනීවා - රෝන් ගංගාව
(4) වොර්සෝ - විස්ටියුලා ගංගාව
(5) බර්ලින් - එල්බ් ගංගාව (.........)

**14.** (1) වැලෝයි - ප්‍රංශය
(2) ටියුඩර් - එංගලන්තය
(3) හොහෙන්සොලර්න් - ස්පාඤ්ඤය
(4) බ්‍රැගන්සා - පෘතුගාලය
(5) සැවෝයි - ඉතාලිය (.........)

**15.** (1) වී.අයි. ලෙනින් - නිර්ධන පාන්තික ආඥාදායකත්වය
(2) ඇලෙක්සැන්ඩර් කෙරෙන්ස්කි - නව ආර්ථික ප්‍රතිපත්තිය
(3) ජෝශෆ් ස්ටාලින් - තනි රටේ සමාජවාදය
(4) නිකිතා කෘෂෙෆ් - සාමකාමී සහජීවනය
(5) මිහායල් ගොර්බචොෆ් - ග්ලස්නොස්ට් (විවෘතභාවය) සහ පෙරෙස්ත්‍රොයිකා (ආර්ථික ප්‍රතිව්‍යුහගතකරණය) (.........)

- අංක 16 සිට 25 තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත දී ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| X | Y |
|---|---|
| (i) ප්‍රොටගරස් | A 'රාජ්‍යය යනු මම වෙමි.' |
| (ii) හිපොක්‍රටීස් | B 'විප්ලවය යනු මම වෙමි.' |
| (iii) ජුලියස් සීසර් | C 'සෑම රෝගයකට ම ස්වාභාවික හේතුවක් ඇත.' |
| (iv) දාහතරවන ලුවී | D 'සියලු දේ මනින මිම්ම මිනිසා ය.' |
| (v) නැපෝලියන් බොනපාට් | E 'මම පැමිණියෙමි, මම දුටිමි, මම ජය ගතිමි.' |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**17.**

| X | Y |
|---|---|
| (i) ප්ලේටෝ | A රීමුස් |
| (ii) සැෆෝ | B ඇරිස්ටෝටල් |
| (iii) රොමියුලස් | C ටැසිටස් |
| (iv) ලිවි | D ඇක්වයිනාස් |
| (v) ඔගස්ටීන් | E පින්ඩාර් |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**18.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | සියක් අවුරුදු යුද්ධය | A | ප්‍රංශය සහ ප්‍රශියාව |
| (ii) | ඔස්ටර්ලිට්ස් සටන | B | ඔස්ට්‍රියාව සහ ප්‍රශියාව |
| (iii) | ජේනා සටන | C | රුසියාව සහ තුර්කිය |
| (iv) | ක්‍රිමියන් යුද්ධය | D | එංගලන්තය සහ ප්‍රංශය |
| (v) | සැඩෝවා සටන | E | ප්‍රංශය සහ ඔස්ට්‍රියාව |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**19.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | නව ලෝකය | A | ඉතාලිය |
| (ii) | සාප්පුකාර ජාතිය | B | අමෙරිකා මහාද්වීපය |
| (iii) | හුදු භූගෝලීය ප්‍රකාශනයක් පමණකි | C | තුර්කිය |
| (iv) | යුරෝපයේ රෝගියා | D | අප්‍රිකා මහාද්වීපය |
| (v) | අඳුරු මහාද්වීපය | E | බ්‍රිතාන්‍යය |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**20.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | නිකොලස් කොපර්නිකස් | A | පරිනාමවාදී න්‍යාය |
| (ii) | අයිසැක් නිව්ටන් | B | රේඩියම් සොයා ගැනීම |
| (iii) | චාල්ස් ඩාවින් | C | සූර්යකේන්ද්‍රීයවාදය |
| (iv) | මාරි කියුරි | D | සාපේක්ෂතාවාදී න්‍යාය |
| (v) | ඇල්බට් අයින්ස්ටයින් | E | ගුරුත්වාකර්ෂණය පිළිබඳ න්‍යාය |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**21.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | තිස් අවුරුදු යුද්ධය | A | කුචුක් කයිනාජි ගිවිසුම |
| (ii) | හත් අවුරුදු යුද්ධය | B | බ්‍රෙස්ට් - ලිටොව්ස්ක් ගිවිසුම |
| (iii) | රුසියානු - තුර්කි යුද්ධය (1768 - 1774) | C | පෝට්ස්මත් ගිවිසුම |
| (iv) | රුසියානු - ජපන් යුද්ධය | D | පැරිස් ගිවිසුම |
| (v) | රුසියානු - ජර්මන් යුද්ධය (1914 - 1918) | E | වෙස්ට්ෆේලියා ගිවිසුම |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**22.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | ජෝන් ලොක් | A | පොදු අභිමතය පිළිබඳ සංකල්පය |
| (ii) | මොන්ටෙස්කියු | B | උපයෝගිතාවාදය |
| (iii) | රූසෝ | C | රාජ්‍ය නිර්බාධවාදී න්‍යාය |
| (iv) | ඇඩම් ස්මිත් | D | ජනතාවගේ කැමැත්ත මත පදනම් වූ ආණ්ඩුව |
| (v) | ජෙරමි බෙන්තම් | E | බලතල බෙදීම පිළිබඳ න්‍යාය |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**23.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | මහා ෆෙඩ්රික් | A | ස්පාඤ්ඤය |
| (ii) | මහා කැතරින් | B | ප්‍රංශය |
| (iii) | මරියා තෙරේසා | C | රුසියාව |
| (iv) | තුන්වන චාල්ස් | D | ප්‍රශියාව |
| (v) | පහළොස්වන ලුවී | E | ඔස්ට්‍රියාව |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**24.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | රතු කමිස හමුදාව | A | ට්‍රොට්ස්කි |
| (ii) | කළු අත් (Black hand) | B | ගැරිබෝල්ඩි |
| (iii) | රතු හමුදාව | C | මුසෝලිනී |
| (iv) | කළු කමිස හමුදාව | D | හිට්ලර් |
| (v) | දුඹුරු කමිස හමුදාව | E | සර්බියාවේ ත්‍රස්තවාදී රහස් සංවිධානයකි |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

04286

| | X | | Y |
|---|---|---|---|
| **25.** (i) | ජාත්‍යන්තර කම්කරු සංවිධානය (ILO) | A | හේග් |
| (ii) | එක්සත් ජාතීන්ගේ සංවිධානය (UNO) | B | රෝමය |
| (iii) | ජාත්‍යන්තර අධිකරණය (ICJ) | C | ජිනීවා |
| (iv) | ලෝක ආහාර වැඩසිළිවෙළ (WFP) | D | වොෂිංටන් |
| (v) | ජාත්‍යන්තර මූල්‍ය අරමුදල (IMF) | E | නිව්යෝර්ක් |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

- අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A), (B), (C)** සහ **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක් හෝ** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් .................................... **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් .................................... **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් .................................... **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් .................................... **4** ද,
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ......... **5** ද **වරහන තුළ** ලියන්න.

| **උපදෙස් සම්පිණ්ඩනය** | | | | |
|---|---|---|---|---|
| 1 | 2 | 3 | 4 | 5 |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**26. පහත දැක්වෙන කෘති අතුරෙන් ග්‍රීක වීර කාව්‍ය කවරේ ද?**
(A) ඉලියඩ් (B) ඔඩිසි
(C) ඇන්ටිගනි (D) ඊනීඩ් (.........)

**27. පහත දැක්වෙන ඒවා අතුරෙන් බ්‍රිතාන්‍යය ආක්‍රමණය කළ මිලේච්ඡ ගෝත්‍ර කවරේ ද?**
(A) ඔස්ට්‍රොගොත්වරු (B) ෆ්‍රෑන්ක්වරු
(C) ඇංගල්වරු (D) සැක්සන්වරු (.........)

**28. පහත දැක්වෙන්නන් අතුරෙන් පසුකාලීන මධ්‍යතන යුගයේ ජීවත් වූ ඉතාලි ලේඛකයෝ කවරහු ද?**
(A) ඩාන්ටේ (B) පෙට්රාක්
(C) බොකෑෂියෝ (D) බොටිචෙලි (.........)

**29. පහත දැක්වෙන රටවල් අතුරෙන් පහළොස්වන හා දහසයවන සියවස්වල දී ජාතික රාජ්‍ය නැගී ආ රටවල් කවරේ ද?**
(A) ජර්මනිය (B) ස්පාඤ්ඤය
(C) ප්‍රංශය (D) ඉතාලිය (.........)

**30. පහත දැක්වෙන්නන් අතුරෙන් විසිවන සියවසේ අපරභාගයේ සෝවියට්දේශයේ පාලකයෝ කවරහු ද?**
(A) ඇලෙක්සි කොසිගින් (B) ඇලෙක්සැන්ඩර් සොල්ෂෙනිට්සින්
(C) ලියොනිඩ් බ්‍රෙෂ්නෙෆ් (D) අන්ද්‍රෙයි සඛරොෆ් (.........)

- අංක **31** සිට **35** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් එකක් අදාළ මාතෘකාවට **නොගැළපේ**. එම **නොගැළපෙන** කරුණ තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31. තිස් අවුරුදු යුද්ධයේ ප්‍රධාන අවධි**
(1) බොහිමියන් (2) ජර්මන් (3) ඩේනිෂ් (4) ස්වීඩිෂ් (5) ප්‍රංශ (.........)

**32. අමෙරිකන් විප්ලවය හා සම්බන්ධ ප්‍රධාන සිදුවීම්**
(1) බොස්ටන් තේ සාදය (2) මහාද්වීපික සම්මේලන (3) බැස්ටීලය බිඳ දැමීම
(4) ස්වාධීනතා ප්‍රකාශනය (5) පැරිස් ගිවිසුම (.........)

**33. යුරෝපා සමුළු ක්‍රමය යටතේ පවත්වන ලද සම්මේලන**
(1) අයි ලා ෂැපෙල් (2) ට්‍රොපෝ (3) ලයිබැක් (4) වෙරෝනා (5) පැරිස් (.........)

**34. පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට තුඩු දුන් හේතු**
(1) යුරෝපීය බලවතුන් අතර පැවති යටත් විජිත තරගය
(2) යුරෝපය බල කඳවුරු දෙකකට බෙදීම
(3) ඇල්සාස් සහ ලොරේන් යන ප්‍රදේශ ජර්මනියට ඈඳා ගැනීම පිළිබඳව ප්‍රංශය තුළ ඇතිව තිබූ ප්‍රතිරෝධය
(4) ෆැසිස්ට්වාදයේ හා නට්සිවාදයේ නැගීම
(5) ඉංග්‍රීසි - ජර්මන් නාවික තරගය (.........)

[පස්වැනි පිටුව බලන්න.

**35.** **එක්සත් ජාතීන්ගේ සංවිධානය සම්බන්ධ වූ ප්‍රධාන අර්බුද**

(1) මොරොක්කෝ අර්බුදය
(2) කොරියන් යුද්ධය
(3) සූවස් අර්බුදය
(4) බෙල්ජියන් කොංගෝවේ සිවිල් යුද්ධය
(5) කාශ්මීර අර්බුදය

(.........)

● අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|---|
| **36.** | ග්‍රීකයන් පර්සියානුවන්ට එරෙහිව කළ යුද්ධය පෙලොපොනීසියානු යුද්ධය නමින් හඳුන්වනු ලැබේ. | දේශපාලනය පිළිබඳ ඇරිස්ටෝටල්ගේ වඩාත් ම වැදගත් කෘතිය නම් 'රිපබ්ලික්' හෙවත් සමූහාණ්ඩුවයි. | (.........) |
| **37.** | ක්‍රිස්තියානීන්ට ආගමික සහනය ප්‍රදානය කරමින් කොන්ස්ටන්ටයින් ක්‍රි.ව. 313 දී මිලාන් ආඥාව නිකුත් කළේ ය. | ක්‍රි.ව. 476 දී අවසාන රෝම අධිරාජයා බලයෙන් පහ කළ ම්ලේච්ඡයෝ හැනිබාල් සිහසුනට පත් කළහ. | (.........) |
| **38.** | ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව යුරෝපා සමාජයේ සෑම ක්ෂේත්‍රයක ම අති බලවත් හා දීර්ඝකාලීන ප්‍රතිඵල ඇති කළේ ය. | ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ක්‍රිස්තියානි ආගමික ඒකාබද්ධතාව අවසන් කළ අතර එය ආගමික-දේශපාලන යුද්ධ ඇතිවීමට මග පෑදී ය. | (.........) |
| **39.** | බොස්නියාවේ අගනුවර වූ සරයේවෝහි දී ඔස්ට්‍රියානු-හංගේරියානු අධිරාජ්‍යයේ කිරුළට උරුමකරුවා වූ ෆ්‍රාන්ස් ෆර්ඩිනන්ඩ් ආදිපාදවරයා ඝාතනය කිරීම පළමුවන ලෝක යුද්ධය ඇතිවීමට තුඩුදුන් ආසන්න හේතුව විය. | වර්සායි සාම සමථයෙන් ඔස්ට්‍රියානු-හංගේරියානු අධිරාජ්‍යය විසුරුවා හරිනු ලැබී ය. | (.........) |
| **40.** | 1929 දී හිට්ලර් සහ පාප් වහන්සේ අතර අත්සන් කරන ලද ලැටරන් ගිවිසුමෙන් කතෝලික දහම ජර්මනියේ නිල රාජ්‍යාගම ලෙස පිළිගනු ලැබී ය. | 1961 දී ඉදි කරන ලද බර්ලින් තාප්පය, 1989 දී බිඳ හෙළන ලදී. | (.........) |

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ட்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25-B S II

**යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

**උපදෙස්:**
* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **යුරෝපයේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

**1.** ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) සාර්ඩිනියා (ii) ටයිබර් ගඟ (iii) ඇඩ්‍රියාතික් මුහුද
(iv) ඩාඩනල්ස් සමුද්‍ර සන්ධිය (v) ලිස්බන් (vi) පෝලන්තය
(vii) මැන්චෙස්ටර් (viii) කීල් ඇල

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි)*

**2.** පහත දැක්වෙන ක්ෂේත්‍රවල පුරාණ රෝමවරුන්ගේ කාර්යසංසිද්ධිය සැකෙවින් පරීක්ෂා කරන්න.
(i) ආණ්ඩුක්‍රම
(ii) නීතිය *(ලකුණු 14යි)*

**3.** (i) සමාජ හා ආර්ථික ක්‍රමයක් වශයෙන් යුරෝපයේ වැඩවසම් ක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. *(ලකුණු 08යි)*
(ii) මධ්‍යතන යුගයේ අවසාන සමයේ යුරෝපයේ වැඩවසම් ක්‍රමය පරිහානියට පත් වූ අයුරු ගෙනහැර දක්වන්න. *(ලකුණු 06යි)*

**4.** "දේශ ගවේෂණ, යුරෝපයේ දේශපාලන හා ආර්ථික ක්ෂේත්‍රවල අතිවිශාල පරිවර්තනයක් ඇති කළේ ය."
(i) මුල්කාලීන දේශ ගවේෂණවල නිරත වූ **එක්** අයිබීරියානු රටක් නම් කරන්න. *(ලකුණු 01යි)*
(ii) දේශ ගවේෂණවලට අනුග්‍රහය දැක්වූ පාලකයන් **දෙදෙනකු** නම් කරන්න. *(ලකුණු 02යි)*
(iii) **එක්** යුරෝපීය රටක් නිරත වූ දේශ ගවේෂණ පිළිබඳ ලුහුඬු විස්තරයක් ඉදිරිපත් කරන්න. *(ලකුණු 03යි)*
(iv) දේශ ගවේෂණ, යුරෝපයේ අතිවිශාල දේශපාලන හා ආර්ථික වෙනස්වීම් ඇති කළ අයුරු සාකච්ඡා කරන්න. *(ලකුණු 08යි)*

**5.** "ප්‍රංශ විප්ලවය මධ්‍යම පන්තිය විසින් ආරම්භ කරන ලදී."
(i) විප්ලවය ඇති වන විට ප්‍රංශය පාලනය කරමින් සිටි පාලකයා නම් කරන්න. *(ලකුණු 01යි)*
(ii) පූර්ව විප්ලවීය ප්‍රංශයේ පැවති ප්‍රජා ගණ **තුන** නම් කරන්න. *(ලකුණු 03යි)*
(iii) පූර්ව විප්ලවීය ප්‍රංශයේ ජීවත් වූ දාර්ශනිකයන් **දෙදෙනකු** නම් කරන්න. *(ලකුණු 02යි)*
(iv) මධ්‍යම පාන්තිකයන්ගේ දුක්ගැනවිලි කෙරෙහි අවධානය යොමු කරමින් ප්‍රංශ විප්ලවය ආරම්භ කිරීමෙහිලා මධ්‍යම පන්තිය විසින් ඉටු කරන ලද භූමිකාවේ සාපේක්ෂ වැදගත්කම විවේචනාත්මකව විමසන්න. *(ලකුණු 08යි)*

**6.** (i) වියනා සම්මේලනය විසින් විසඳිය යුතුව තිබූ ප්‍රධාන ගැටලු කවරේ ද? *(ලකුණු 05යි)*
(ii) එම ගැටලු විසඳීමට වියනා සම්මේලනය විසින් ගනු ලැබූ පියවර විස්තර කරන්න. *(ලකුණු 09යි)*

**7.** ඉතාලි එක්සත් ව්‍යාපාරයෙහිලා මැසිනි, කැවූර් හා ගැරිබෝල්ඩි යන නායකයන් ඉටු කළ කාර්යභාරයන් පරීක්ෂා කරන්න. *(ලකුණු 14යි)*

**8.** "ජාතීන්ගේ සංගමය අසාර්ථක වීම දෙවන ලෝක යුද්ධය ඇති වීමට මඟ පෑදී ය."

(i) ජාතීන්ගේ සංගමය පිහිටුවීමට යෝජනා කළ නායකයා නම් කරන්න. *(ලකුණු 01 යි)*

(ii) ජාතීන්ගේ සංගමයේ ප්‍රධාන අරමුණු කවරේ ද? *(ලකුණු 03 යි)*

(iii) ජාතීන්ගේ සංගමය අසාර්ථක වූයේ මන් ද? *(ලකුණු 03 යි)*

(iv) ජාතීන්ගේ සංගමය අසාර්ථක වීම දෙවන ලෝක යුද්ධය ඇති වීමට කෙතෙක් දුරට හේතු වී දැයි පරීක්ෂා කරන්න. *(ලකුණු 07 යි)*

**9.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** (i) 'නිරවි යුද්ධය' යන්නෙන් අදහස් කරන්නේ කුමක් ද? *(ලකුණු 06 යි)*

(ii) නිරවි යුද්ධය යුරෝපයේ දේශපාලනය කෙරෙහි බලපෑවේ කෙසේ ද? *(ලකුණු 08 යි)*

**(B)** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑ ම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) පුරාණ ග්‍රීක කලාව හා සාහිත්‍යය

(ii) පුනරුද සමයේ කලාව

(iii) ප්‍රති රෙපරමාදුව

(iv) අමෙරිකානු විප්ලවයේ පසුබිම

(v) බිස්මාක් සහ ජර්මන් ජාතිකවාදය

(vi) බොල්ෂෙවික් විප්ලවය

*(එක් සටහනකට ලකුණු **07** බැගින්)*

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| | | | |
|---|---|---|---|
| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-B | S |

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. **1**

විභාග අංකය / சுட்டெண் / Index No. ............................



අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25 - A | S | II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා

විභාග අංකය: ..................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස**, **II කොටසේ** පිළිතුරු පත්‍ර සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

* අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) කිර්තාර් (2) සුලෙයිමාන් (3) හින්දුකුෂ්
(4) නිල්ගිරි (5) කාරකෝරම් (.........)

2. (1) කෘෂ්ණා (2) කාවේරි (3) මහානදී
(4) සින්දු (5) ගෝධාවරී (.........)

3. (1) පුරු (2) යදු (3) තුර්වාස
(4) අනු (5) දස්‍යු (.........)

4. (1) ග්‍රීක (2) ශක (3) කුෂාණ
(4) සුංග (5) පහ්ලව (.........)

5. (1) ආර්යදේව (2) අශ්වඝෝෂ (3) නාගර්ජුන
(4) වසුමිත්‍ර (5) වසුබන්දු (.........)

6. (1) උජ්ජේනි (2) සුවර්ණගිරි (3) තක්ෂිලා
(4) තෝසලී (5) කාලිංග (.........)

7. (1) පාටලිපුත්‍ර (2) තාම්‍රලිප්ති (3) කල්‍යාණි
(4) සුප්පාරක (5) භාරුකච්ඡ (.........)

8. (1) සාකුන්තල (2) මේඝදූත (3) හර්ෂචරිත
(4) වික්‍රමෝර්වශී (5) රඝුවංශ (.........)

9. (1) මහේන්ද්‍රවර්මන් (2) වරගුණවර්මන් (3) නරසිංහවර්මන්
(4) පරමේශ්වරවර්මන් (5) නන්දිවර්මන් (.........)

10. (1) චේර (2) චෝළ (3) පාණ්ඩ්‍ය
(4) ප්‍රතිහාර (5) පල්ලව (.........)

[දෙවැනි පිටුව බලන්න.

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ**. එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) ශාක්‍ය - කපිලවස්තු
(2) බුලිය - මිථිලා
(3) භග්ග - සුංසුමාරගිරි
(4) කෝලිය - රාමගාම
(5) කාලාම - කේශපුත්ත (.........)

**12.** (1) අජන්තා - බිතුසිතුවම්
(2) සාංචි - ස්තූප
(3) මාමල්ලපුරම් - පල්ලව රථ
(4) ඔරිස්සා - ලිංගරාජ දේවාලය
(5) මදුරා - ගුහා දේවාල (.........)

**13.** (1) කෞටිල්‍ය - අර්ථශාස්ත්‍ර
(2) ශුද්‍රක - මෘච්ඡකටිකා
(3) හර්ෂවර්ධන - හර්ෂචරිත
(4) බිල්හාන - වික්‍රමාංකදේව චරිත
(5) කල්හන - රාජතරංගනි (.........)

**14.** (1) පරමාර - මාල්වා
(2) පාල - බෙංගාල
(3) චාලුක්‍ය - බදාමි
(4) තෝමාර - කනෞජ්
(5) චන්දෙල්ල - බුන්දල්ඛාන්ඩ් (.........)

**15.** (1) දමන - එරන්ඩපල්ල
(2) මහේන්ද්‍ර - කෝසල
(3) හස්තිවර්මන් - කාංචි
(4) ව්‍යාඝ්‍රරාජ - මහාකාන්තාර
(5) ස්වාමිදත්ත - කොට්ටුර (.........)

● අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

| | X | | Y |
|---|---|---|---|
| **16.** (i) | සෝම | A | වේදය |
| (ii) | සභා | B | දිව්‍යමය පානයකි |
| (iii) | සති | C | අනාර්ය ගෝත්‍රයකි |
| (iv) | පණි | D | වැන්දඹුවන් දරසෑයට පැන මිය යෑම |
| (v) | ශ්‍රැති | E | වැඩිහිටියන්ගේ රැස්වීම |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **17.** (i) | තෝරමාන | A | තක්ෂිලාව පාලනය කළ මුල් ම ශක පාලකයා |
| (ii) | ඇලෙක්සැන්ඩර් | B | වයඹදිග ඉන්දියාව අල්ලා ගත් මැසිඩෝනියානු පාලකයා |
| (iii) | මාවුස් | C | ඉන්දියාවේ පළමුවන පහ්ලව පාලකයා |
| (iv) | කුජුල කුඩ්පයිසිස් | D | ඉන්දියාව ආක්‍රමණය කළ හූණ නායකයා |
| (v) | ගොන්ඩොපර්නිස් | E | ඉන්දියාවේ පළමුවන යූඑ-චි පාලකයා |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | Y |
|---|---|---|
| **18.** | (i) අකර්මන් | A යාගයා නොපවත්වන |
| | (ii) අදේවුසු | B බ්‍රාහ්මණයන්ට විරුද්ධ |
| | (iii) අබ්‍රහ්මන් | C දෙවිවරුන්ට විරුද්ධ |
| | (iv) අයජ්වන් | D ව්‍රත නොපවත්වන |
| | (v) අව්‍රත | E වෛදික චාරිත්‍ර නොපවත්වන |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | Y |
|---|---|---|
| **19.** | (i) රාවි | A මථුරා |
| | (ii) යමුනා | B කනෞජ් |
| | (iii) සින්දු | C හරප්පා |
| | (iv) නර්මදා | D භාරුකච්ඡ |
| | (v) ගංගා | E මොහෙන්ජෝදාරෝ |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | Y |
|---|---|---|
| **20.** | (i) නාසික් සෙල්ලිපිය | A ගෞතමී බාලශ්‍රී |
| | (ii) ජූනාගාඩ් සෙල්ලිපිය | B දෙවන පුලකේශීන් |
| | (iii) හතිගුම්පා සෙල්ලිපිය | C ඛාරවේල |
| | (iv) අයිහෝලේ සෙල්ලිපිය | D රුද්‍රදාමන් |
| | (v) අලහබාද් ප්‍රශස්තිය | E සමුද්‍රගුප්ත |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

- අංක **21** සිට **25** තෙක් සෑම ප්‍රශ්නයකට ම නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**21. 'මිලින්ද පඤ්හ' ග්‍රන්ථයේ කර්තෘ කවරෙක් ද?**
(1) මිලින්ද (2) බුද්ධඝෝෂ (3) ධම්මපාල
(4) වසුබන්ධු (5) නාගසේන (.........)

**22. වජ්ජීන්ගේ අගනුවර කුමක් ද?**
(1) වෛසාලි (2) වත්ස (3) මල්ල
(4) කපිලවස්තු (5) චම්පා (.........)

**23. ඍග් වෛදික යුගයේ යුද්ධයට අධිපති දෙවියා වූයේ කවුද?**
(1) අග්නි (2) ඉන්ද්‍ර (3) වායු
(4) වරුණ (5) පර්ජන්‍ය (.........)

**24. දකුණු ඉන්දියාවට ආර්ය සංස්කෘතිය හඳුන්වා දුන් ඍෂිවරයා ලෙසට විශ්වාස කරනුයේ,**
(1) වාල්මීකි ය. (2) අගස්ති ය. (3) පුරන්දර ය.
(4) පද්මගුප්ත ය. (5) හේමචන්ද්‍ර ය. (.........)

**25. ඛරෝෂ්ඨී අක්ෂරයෙන් ලියැවුණු අශෝක සෙල්ලිපිය කවරේ ද?**
(1) ධෞලි (2) බරාබර් (3) ශාබාෂ්ගර්හි
(4) ගිර්නාර් (5) රුම්න්දෙයි (.........)

- අංක **26** සිට **30** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් **එකක් අදාළ මාතෘකාවට නොගැළපේ.** එය තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**26. ඍග් වෛදික යුගය**
(1) ඍග්වේදය සකස් වූ යුගය ලෙසට සැලකෙන්නේ ක්‍රි.පූ. 1500-1000 අතර කාලයයි.
(2) එහෙත් ඍග් වේදය වර්තමාන ස්වරූපයෙන් ග්‍රන්ථාරූඪ වූයේ ක්‍රි.ව. 1 - 4 සියවස්වල දී ය.
(3) ඍග් වෛදික යුගයේ ප්‍රධාන දෙවියා වූයේ ඉන්ද්‍ර ය.
(4) ආර්යයන්ගේ නගර ආරක්ෂක දෙවියා වූයේ පුරන්දර ය.
(5) ඍග් වෛදික ජනයා මුලින් ම වාසය කළේ බ්‍රහ්මාවර්තයේ ය. (.........)

**27. මෞර්ය අධිරාජ්‍යය**
(1) මෞර්ය වංශයේ ආරම්භකයා චන්ද්‍රගුප්ත මෞර්ය ය.
(2) චන්ද්‍රගුප්තගේ අගනුවර පාටලීපුත්‍රයයි.
(3) මෞර්ය අධිරාජ්‍යය උච්චතම අවධියේ දී කාබුල් නිම්නයේ සිට ඉන්දියාවේ දකුණු කෙළවර දක්වා ව්‍යාප්තව පැවතුණි.
(4) ඉන්දියාවේ පැරණිතම සෙල්ලිපි ලියැවී ඇත්තේ අශෝක රජුට පෙර සමයේ දී ය.
(5) පුෂ්‍යමිත්‍ර සුංග විසින් ඇරඹූ කැරැල්ල නිසා මෞර්ය අධිරාජ්‍යය අවසන් විය. (.........)

22926

**28. ගුප්ත පාලනය**
(1) උත්තරාපථය මෙන් ම දක්ෂිණාපථය ද ගුප්ත නිලධාරීන් විසින් පාලනය කරන ලදී.
(2) එය මධ්‍යගත පාලන ක්‍රමයකි.
(3) රජතුමා රාජ්‍යයේ මෙන් ම පරිපාලනයේ ද ප්‍රධානියා විය.
(4) අධිරාජ්‍යය බුක්ති හා විෂය යන පරිපාලන ඒකකවලට බෙදා තිබුණි.
(5) රජතුමා පාලනයේ දී මන්ත්‍රි පර්ෂද් නම් වූ අමාත්‍ය මණ්ඩලයක සහාය ලැබී ය. (.........)

**29. හියුං-සාං**
(1) හියුං-සාං චීන ජාතික භික්ෂුවක් විය.
(2) හර්ෂවර්ධන රජු සමයේ ඉන්දියාවට පැමිණ කනෞජ්හි පවත්වන ලද බෞද්ධ සම්මේලනයට ද සහභාගී විය.
(3) උන් වහන්සේගේ දේශාටන වාර්තාවේ මිහිරකුල විසින් කළ ක්‍රියාකාරකම් ගැන සඳහන් වේ.
(4) හියුං-සාං භික්ෂුව තක්ෂිලා විශ්වවිද්‍යාලයේ අධ්‍යාපනය ලැබී ය.
(5) උන් වහන්සේ පල්ලවයන්ගේ අගනුවර වූ කාංචියට ද ගොස් ඇත. (.........)

**30. චෝළ දේවාල**
(1) චෝළ දේවාලවල ප්‍රධාන අංග වූයේ මණ්ඩප, අන්තරාලය සහ ගර්භ ගෘහයයි.
(2) ගෝපුරම් ද හින්දු දේවාලවල කැපීපෙනෙන අංගයක් විය.
(3) සුප්‍රසිද්ධ රථ සම්ප්‍රදායේ ආරම්භකයෝ චෝළයෝ ය.
(4) තංජෝරයේ සමහර දේවාලවලින් චෝළ රජවරුන්ගේ ප්‍රතිමා ද හමු වේ.
(5) චෝළ රජවරු දේවාලවලට විශාල ධනයක් පරිත්‍යාග කළහ. (.........)

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති (A), (B), (C) හා (D) යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක්** හෝ නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

(A) සහ (B) පමණක් නිවැරදි නම් .................................... 1 ද
(B) සහ (C) පමණක් නිවැරදි නම් .................................... 2 ද
(C) සහ (D) පමණක් නිවැරදි නම් .................................... 3 ද
(A) සහ (C) පමණක් නිවැරදි නම් .................................... 4 ද
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් .......... 5 ද **වරහන තුළ** ලියන්න.

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| 1 | 2 | 3 | 4 | 5 |
| (A) සහ (B) පමණක් නිවැරදි ය. | (B) සහ (C) පමණක් නිවැරදි ය. | (C) සහ (D) පමණක් නිවැරදි ය. | (A) සහ (C) පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**31. ජෛනාගම**
(A) ජෛනයන්ගේ පළමුවන තීර්ථංකර වර්ධමාන මහාවීර විය.
(B) ශ්වේතාම්බර හා දිගම්බර ජෛනාගමේ ප්‍රධාන නිකාය දෙක වේ.
(C) දෙවියන් විසින් ලෝකය මැවීම හෝ ලෝකය පාලනය කිරීම හෝ පිළිබඳ මතය ඔවුහු විශ්වාස නොකළහ.
(D) ශ්වේතාම්බර නිකාය විසින් කාන්තාවන් ද පූජකයන් ලෙසට බඳවාගෙන ඇත. (.........)

**32. සාතවාහනයෝ**
(A) සාතවාහන රාජ්‍යය පිහිටුවන ලද්දේ නැගෙනහිර ඩෙකානයේ ය.
(B) පුරාණ ග්‍රන්ථවල සාතවාහනයෝ ආන්ද්‍රයෝ ලෙස හඳුන්වා ඇත.
(C) සාතවාහන රාජධානියේ ආරම්භක පාලකයා පළමුවන සාතකර්ණී ය.
(D) සාතවාහනයෝ ඩෙකානයේ බලය ලබාගත්තේ එහි සිටි කාන්වයන් නෙරපා දැමීමෙන් අනතුරුව ය. (.........)

**33. කාලිදාස**
(A) කාලිදාස වික්‍රමාදිත්‍ය රාජ සභාවේ සිටි නවරත්නයන්ගෙන් කෙනෙකි.
(B) කාලිදාස දක්ෂිණාපථයේ උපත ලැබුවෙකි.
(C) කුමාරසම්භව කාලිදාස විසින් රචිත මහා කාව්‍යයක් ලෙසට සැලකේ.
(D) වික්‍රමෝර්වශී නාට්‍යය පළමුවන කුමාරගුප්ත රජුගේ ජීවිතය වටා ගෙතී ඇත. (.........)

[පස්වැනි පිටුව බලන්න.

**34. පුෂ්‍යභූති රාජ පෙළපත**

(A) තානේශ්වර්හි පුෂ්‍යභූති රාජවංශයේ ආරම්භකයා ප්‍රභාකරවර්ධන විය.
(B) ප්‍රභාකරවර්ධනගේ පුත්‍ර හර්ෂවර්ධන කනෞජය අත්පත් කරගත්තේ සසංක පළවා හැරීමෙනි.
(C) හර්ෂවර්ධනගේ සොහොයුරිය මෞඛරී වංශයේ ග්‍රහවර්මන්ට පාවා දෙන ලදී.
(D) හර්ෂවර්ධනගේ යුද ප්‍රයාන පිළිබඳ සවිස්තරාත්මක තොරතුරු පාහියන් විසින් වාර්තා කොට ඇත. (………)

**35. පල්ලවයෝ**

(A) පල්ලව රාජධානිය පිහිටුවන ලද්දේ ක්‍රි.ව. තුන්වන හා හතරවන සියවස්වල දී ය.
(B) අලහබාද් ප්‍රශස්තිය අනුව සමුද්‍රගුප්ත රජු විසින් පරාජය කරන ලද රාජ්‍යයක් වූයේ පල්ලවයන්ගේ රාජධානියයි.
(C) මානවම්ම කුමරු අනුරාධපුර සිහසුන ලබා ගත්තේ පල්ලව රජුගේ ආධාරයෙනි.
(D) රථ නම් වූ හින්දු දේවාල පල්ලවයන් විසින් ඉදිකරන ලදී.

(………)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ **දෙක** බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා, ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|---|
| **36.** | මෙගස්තිනිස්ගේ ඉන්ඩිකා ග්‍රන්ථය මෞර්ය පාලනය පිළිබඳ වටිනා තොරතුරු සපයන මූලාශ්‍රයකි. | මෙගස්තිනිස් යනු පාටලීපුත්‍රයෙහි සිටි ග්‍රීක තානාපතිවරයා ය. | (………) |
| **37.** | ගුප්ත යුගයේ දී උතුරු ඉන්දියාවේ ථෙරවාදී බුද්ධාගමේ පිබිදීමක් දක්නට ඇත. | බුද්ධ ප්‍රතිමා නිර්මාණය ආරම්භ වූයේ ගුප්ත යුගයේ දී ය. | (………) |
| **38.** | නාලන්දා විශ්ව විද්‍යාලය සුප්‍රසිද්ධ ජාත්‍යන්තර බෞද්ධ අධ්‍යාපන ආයතනයක් විය. | චීන ජාතික පාහියන් තෙරුන් නාලන්දා විශ්වවිද්‍යාලයේ අධ්‍යාපනය ලැබී ය. | (………) |
| **39.** | දෙවන පාණ්ඩ්‍ය අධිරාජ්‍යයේ ප්‍රබලතම පාලකයා වූයේ ජටාවර්මන් සුන්දර පාණ්ඩ්‍ය රජු ය. | එහෙත් ඔහුට කාංචිය යටත් කරගත නොහැකි විය. | (………) |
| **40.** | යසෝවර්මන් හර්ෂවර්ධනගෙන් පසු කනෞජයේ බලයට පත් වූ සාර්ථක අනුප්‍රාප්තිකයෙකි. | යසෝවර්මන්ගෙන් පසුව කනෞජයේ ආධිපත්‍යය උදෙසා ගුර්ජර - ප්‍රතිහාර, පාල සහ රාෂ්ටකූටයන් අතර අරගලයක් පැවතිණි. | (………) |

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-A | S |
|---|---|---|

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. **1**

විභාග අංකය / சுட்டெண் / Index No. ..............................



අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

**25 - A | S | II**

**ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ඉන්දියාවේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.
   - (i) තක්ෂිලා
   - (ii) හරප්පා
   - (iii) භාරුකච්ඡ
   - (iv) සාංචි
   - (v) වින්ධ්‍යා කඳුවැටිය
   - (vi) තංජෝර්
   - (vii) තාම්‍රලිප්ති
   - (viii) කෘෂ්ණා ගඟ

   *(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු 01 බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු 05 බැගිනි.)*

2. මොහෙන්ජෝදාරෝ-හරප්පා ශිෂ්ටාචාරයේ සමාජ, සංස්කෘතික හා ආර්ථික තත්ත්වයන් පැහැදිලි කරන්න. (ලකුණු 14යි.)

3. බ්‍රහ්මාවර්තයේ සිට ආර්යාවර්තයට ජනාවාස ව්‍යාප්ත වීමත් සමඟ සමාජ හා සංස්කෘතික අංශවල ඇති වූ වෙනස්කම් පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)

4. මෞර්ය පාලන ක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ සාකච්ඡා කරන්න. (ලකුණු 14යි.)

5. "කනිෂ්ක රජු කුෂාණ රාජ වංශයේ කැපීපෙනෙන නායකයා විය."
   - (i) කනිෂ්කගේ අගනුවර කුමක් ද? (ලකුණු 01යි.)
   - (ii) කුෂාණ සමයේ සිටි ප්‍රධාන පෙළේ බෞද්ධ භික්ෂූන් **දෙනමක්** නම් කරන්න. (ලකුණු 02යි.)
   - (iii) ඉන්දියානු දේශපාලන ක්ෂේත්‍රයෙහිලා කුෂාණයන්ගේ වැදගත්කම පැහැදිලි කරන්න. (ලකුණු 03යි.)
   - (iv) "සංස්කෘතික හා ආගමික ක්ෂේත්‍රවල වර්ධනයට කනිෂ්ක රජුගෙන් සිදු වූ දායකත්වය කැපීපෙනේ." මෙම ප්‍රකාශය පරීක්ෂා කරන්න. (ලකුණු 08යි.)

6. ගුප්ත අධිරාජ්‍යය පිරිහීමට හා බිඳවැටීමට බලපෑ ප්‍රධාන සාධක කවරේ ද? (ලකුණු 14යි.)

7. "ගුප්තයන්ගෙන් පසු උතුරු ඉන්දියාව ප්‍රමුඛත්වයට පැමිණියේ හර්ෂවර්ධන රාජ්‍ය සමයේ දී ය."
   - (i) හර්ෂවර්ධන රාජ්‍ය කාලය පිළිබඳ දැක්වෙන සාහිත්‍ය මූලාශ්‍රයක් නම් කරන්න. (ලකුණු 01යි.)
   - (ii) ඔහුගේ රාජ්‍ය සමයේ දී බෞද්ධ සම්මේලන පැවැත්වූ ප්‍රධාන ස්ථාන **දෙකක්** නම් කරන්න. (ලකුණු 02යි.)
   - (iii) ඔහු කනෞජයේ සිංහාසනයට පැමිණි ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 03යි.)
   - (iv) උතුරු ඉන්දියානු ආධිපත්‍යයේ මධ්‍යස්ථානය බවට කනෞජය පත්කිරීමෙහිලා හර්ෂවර්ධනගේ දායකත්වය සාකච්ඡා කරන්න. (ලකුණු 08යි.)

8. **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.
   - **(A)** ක්‍රි. ව. 7 හා 8 වන ශත වර්ෂවල දී බටහිර සහ වයඹදිග ඉන්දියාවට එල්ල වූ ආරාබි ආක්‍රමණ විචාරාත්මකව පරීක්ෂා කරන්න. (ලකුණු 14යි.)
   - **(B)** පළමුවන රාජරාජ සහ පළමුවන රාජේන්ද්‍ර යටතේ චෝළ බල ව්‍යාප්තියේ ප්‍රධාන අවස්ථා ගෙනහැර දක්වන්න. (ලකුණු 14යි.)

9. පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑ ම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ සටහන් ලියන්න.
   - (i) සෙලියුකස් නිකේටර්
   - (ii) ගණ රාජ්‍ය
   - (iii) සංගම් සාහිත්‍යය
   - (iv) වයඹදිග ඉන්දියාවේ ශක පාලනය

   *(එක් සටහනකට ලකුණු 07 බැගිනි.)*

* * *

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2017**

| | | |
|---|---|---|
| **ඉතිහාසය** I (I කොටස)<br>வரலாறு I (பகுதி I)<br>History I (Part I) | **25 S I** | **පැය තුනයි**<br>*மூன்று மணித்தியாலம்*<br>*Three hours* |

**ශ්‍රී ලංකාවේ ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1978 දක්වා**

**විභාග අංකය:** ....................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු, නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* මෙම කොටසට ලකුණු **40** ක් දෙනු ලැබේ.
* කොටස් **දෙකට ම** මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස**, **II කොටසේ** පිළිතුරු පත් සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **5** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) සිලප්පදිකාරම් (2) මණිමේකලෙයි (3) පදිර්රුපත්තු
   (4) පට්ටිනප්පාලෙයි (5) යාල්පාණ වෛපව මාලෙ (.........)

2. (1) භූපති (2) භූපාල (3) ගහපති
   (4) පඨවිපති (5) පෘථුවීශ්වර (.........)

3. (1) උපෝසථඝර (2) චේතියඝර (3) බෝධිඝර
   (4) සූතිඝර (5) ප්‍රතිමාඝර (.........)

4. (1) යාන් මාට්සුයිකර් (2) පිලිප්පුස් බැල්දියස් (3) රයික්ලොෆ් ෆන් ගුන්ස්
   (4) විලෙම් ෆන් ඉම්හොෆ් (5) යාන් ෂ්‍රොයිඩර් (.........)

5. (1) වන්නිය (2) සබරගමුව (3) නුවරකලාවිය
   (4) තමන්කඩුව (5) හත් කෝරළේ (.........)

● අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ.** එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

6. (1) උපතිස්සගාම - කදම්බ නදී
   (2) උරුවේලගාම - ජජ්ජර නදී
   (3) විජිතගාම - මහාවාලුකා නදී
   (4) දීඝගාම - ගාල්හ නදී
   (5) කාජරගාම - කප්පකන්දර නදී (.........)

7. (1) සාරාර්ථසංග්‍රහය - බුද්ධදාස රජතුමා
   (2) අමාවතුර - ගුරුළුගෝමී
   (3) සිදත් සඟරාව - වේදේහ හිමි
   (4) කව්සිළුමිණ - දෙවන පරාක්‍රමබාහු රජතුමා
   (5) සරජෝතිමාලෙයි - මයිල්වාගනම් (.........)

8. (1) හත්වන බුවනෙකබාහු - දොම් ලුයිස්
   (2) ධර්මපාල - දොම් ජුවාන්
   (3) යමසිංහ බණ්ඩාර - දොම් පිලිප්
   (4) කුසුමාසන දේවි - දෝන කැතරිනා
   (5) කොනප්පු බණ්ඩාර - ඔස්ට්‍රියාවේ දොම් ජුවාන් (.........)

[දෙවැනි පිටුව බලන්න.

**9.** (1) ඩී මියුරොන් කොමිසම - 1796 ට පෙර පැවති තත්ත්වය යළි පිහිටුවීම
(2) මෝර්ගන් කොමිසම - ප්‍රසිද්ධ ඉගැන්වීමේ දෙපාර්තමේන්තුව පිහිටුවීම
(3) රිඩ්ල් කොමිසම - යුනිවර්සිටි කොලීජිය පිහිටුවීම
(4) ඩොනමෝර් කොමිසම - සර්වජන ඡන්දබලය පිරිනැමීම
(5) සෝල්බරි කොමිසම - කැබිනට් ක්‍රමය හඳුන්වා දීම (.........)

**10.** (1) රබර් පර්යේෂණායතනය - අගලවත්ත
(2) තේ පර්යේෂණායතනය - තලවාකැලේ
(3) පොල් පර්යේෂණායතනය - ලුනුවිල
(4) වී පර්යේෂණායතනය - බතලගොඩ
(5) දඹල පර්යේෂණායතනය - හෙනරත්ගොඩ (.........)

- අංක **11** සිට **15** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම/ප්‍රකාශන/දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම/ප්‍රකාශන/දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නොවේ. Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත දී ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**11.**

| X | Y |
|---|---|
| (i) පණ්ඩුවාසුදේව | A සෝමා දේවි |
| (ii) කාකවණ්ණ තිස්ස | B වෙන්කට රංගම්මාල් |
| (iii) වට්ටගාමණී අභය | C භද්දකච්චානා |
| (iv) නිශ්ශංකමල්ල | D විහාරමහා දේවි |
| (v) ශ්‍රී වික්‍රම රාජසිංහ | E කල්‍යාණවතී |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**12.**

| X | Y |
|---|---|
| (i) අනුරාධපුරය | A පළමුවන බුවනෙකබාහු |
| (ii) යාපනය | B දෙවන බුවනෙකබාහු |
| (iii) යාපහුව | C හතරවන බුවනෙකබාහු |
| (iv) කුරුණෑගල | D විජය කුලංගෙයි චක්‍රවර්ති |
| (v) ගම්පොළ | E පණ්ඩුකාභය |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**13.**

| X | Y |
|---|---|
| (i) සූරතිස්ස | A මාඝ |
| (ii) වංකනාසික තිස්ස | B කරිකාල චෝළ |
| (iii) පළමුවන සේන | C සේන හා ගුත්තික |
| (iv) පරාක්‍රම පාණ්ඩ්‍ය | D ශ්‍රීමාර ශ්‍රීවල්ලභ |
| (v) දෙවන පරාක්‍රමබාහු | E චන්ද්‍රබානු |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**14.**

| X | Y |
|---|---|
| (i) 1833 | A උතුරු මැද පළාත |
| (ii) 1845 | B සබරගමු පළාත |
| (iii) 1873 | C බස්නාහිර පළාත |
| (iv) 1886 | D වයඹ පළාත |
| (v) 1889 | E ඌව පළාත |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**15.**

| X | Y |
|---|---|
| (i) හෙන්රි වෝඩ් | A කන්තලේ වැව |
| (ii) හර්කියුලිස් රොබින්සන් | B නාච්චදූව වැව |
| (iii) විලියම් ග්‍රෙගරි | C කලා වැව |
| (iv) ආතර් ගෝර්ඩන් | D ඉරක්කාමම් වැව |
| (v) වෙස්ට් රිජ්වේ | E තිස්සමහාරාම වැව |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

- අංක **16** සිට **20** තෙක් සෑම ප්‍රශ්නයකට ම ගැළපෙන පිළිතුර තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**16.** **දඹදෙණි යුගයේ දී රචිත කෘතීන් අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**
(1) ධර්මප්‍රදීපිකාව, බුත්සරණ, හත්ථවනගල්ල විහාරවංසය, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය
(2) බුත්සරණ, හත්ථවනගල්ල විහාරවංසය, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, දෛවඥ කාමධේනුව
(3) බුත්සරණ, හත්ථවනගල්ල විහාරවංසය, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, කාව්‍යශේඛරය
(4) හත්ථවනගල්ල විහාරවංසය, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, කාව්‍යශේඛරය, නිකාය සංග්‍රහය
(5) හත්ථවනගල්ල විහාරවංසය, භේසජ්ජ මඤ්ජුසා, පූජාවලිය, සද්ධර්මරත්නාවලිය, දෛවඥ කාමධේනුව (.........)

**17.** **ලම්භකර්ණ පෙළපතට අයත් පාලකයන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**
(1) වසභ, පළමුවන ගජබාහු, මහල්ලක නාග, වංකනාසික තිස්ස, භාතික තිස්ස
(2) වසභ, මහල්ලක නාග, පළමුවන ගජබාහු, වංකනාසික තිස්ස, භාතික තිස්ස
(3) වසභ, වංකනාසික තිස්ස, පළමුවන ගජබාහු, මහල්ලක නාග, භාතික තිස්ස
(4) වංකනාසික තිස්ස, වසභ, මහල්ලක නාග, පළමුවන ගජබාහු, භාතික තිස්ස
(5) වසභ, පළමුවන ගජබාහු, වංකනාසික තිස්ස, භාතික තිස්ස, මහල්ලක නාග (.........)

**18.** **උඩරට රාජධානියේ අවසාන රජවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**
(1) ශ්‍රී විජය රාජසිංහ, නරේන්ද්‍රසිංහ, කීර්ති ශ්‍රී රාජසිංහ, රාජාධි රාජසිංහ, ශ්‍රී වික්‍රම රාජසිංහ
(2) නරේන්ද්‍රසිංහ, ශ්‍රී විජය රාජසිංහ, කීර්ති ශ්‍රී රාජසිංහ, රාජාධි රාජසිංහ, ශ්‍රී වික්‍රම රාජසිංහ
(3) නරේන්ද්‍රසිංහ, ශ්‍රී විජය රාජසිංහ, රාජාධි රාජසිංහ, කීර්ති ශ්‍රී රාජසිංහ, ශ්‍රී වික්‍රම රාජසිංහ
(4) රාජාධි රාජසිංහ, නරේන්ද්‍රසිංහ, ශ්‍රී විජය රාජසිංහ, කීර්ති ශ්‍රී රාජසිංහ, ශ්‍රී වික්‍රම රාජසිංහ
(5) නරේන්ද්‍රසිංහ, රාජාධි රාජසිංහ, ශ්‍රී විජය රාජසිංහ, කීර්ති ශ්‍රී රාජසිංහ, ශ්‍රී වික්‍රම රාජසිංහ (.........)

**19.** **ශ්‍රී ලංකාවේ අග්‍රාණ්ඩුකාරවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**
(1) හෙන්රි මන්ක් මේසන් මුවර්, සෝල්බරි, විලියම් ගොපල්ලව, ඔලිවර් ගුණතිලක
(2) හෙන්රි මන්ක් මේසන් මුවර්, විලියම් ගොපල්ලව, සෝල්බරි, ඔලිවර් ගුණතිලක
(3) සෝල්බරි, හෙන්රි මන්ක් මේසන් මුවර්, ඔලිවර් ගුණතිලක, විලියම් ගොපල්ලව
(4) හෙන්රි මන්ක් මේසන් මුවර්, සෝල්බරි, ඔලිවර් ගුණතිලක, විලියම් ගොපල්ලව
(5) සෝල්බරි, හෙන්රි මන්ක් මේසන් මුවර්, විලියම් ගොපල්ලව, ඔලිවර් ගුණතිලක (.........)

**20.** **ශ්‍රී ලංකාවේ මුදල් ඇමතිවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**
(1) ජේ.ආර්. ජයවර්ධන, එම්.ඩී.එච්. ජයවර්ධන, ස්ටැන්ලි සොයිසා, ෆීලික්ස් ඩයස් බණ්ඩාරනායක, යූ.බී. වන්නිනායක
(2) ජේ.ආර්. ජයවර්ධන, එම්.ඩී.එච්. ජයවර්ධන, ෆීලික්ස් ඩයස් බණ්ඩාරනායක, ස්ටැන්ලි සොයිසා, යූ.බී. වන්නිනායක
(3) ජේ.ආර්. ජයවර්ධන, ෆීලික්ස් ඩයස් බණ්ඩාරනායක, එම්.ඩී.එච්. ජයවර්ධන, ස්ටැන්ලි සොයිසා, යූ.බී. වන්නිනායක
(4) එම්.ඩී.එච්. ජයවර්ධන, ජේ.ආර්. ජයවර්ධන, ෆීලික්ස් ඩයස් බණ්ඩාරනායක, ස්ටැන්ලි සොයිසා, යූ.බී. වන්නිනායක
(5) ජේ.ආර්. ජයවර්ධන, එම්.ඩී.එච්. ජයවර්ධන, ස්ටැන්ලි සොයිසා, යූ.බී. වන්නිනායක, ෆීලික්ස් ඩයස් බණ්ඩාරනායක (.........)

- අංක **21** සිට **25** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් **එකක් අදාළ මාතෘකාවට නොගැළපේ.** එය තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**21.** **රෝහණය**
(1) මහානාග රජතුමා මාගම සිට රෝහණය පාලනය කළේ ය.
(2) යටාල තිස්ස රජතුමා මහානාග රජතුමාගෙන් පසු රජකමට පත් විය.
(3) ගෝඨාභය රජතුමා කතරගම දස බෑ රජවරුන් මරා දැමී ය.
(4) කාකවණ්ණ තිස්ස රජතුමා සේරු හා සෝම යන පාලන ඒකක රෝහණයට අවනත කර ගත්තේ ය.
(5) විවාහ සබඳතාවක් මගින් දුට්ඨගාමණී රජතුමා කල්‍යාණිය රෝහණයට ඈඳා ගත්තේ ය. (.........)

**22.** **රජරට චෝළ පාලනය**
(1) චෝළයන් විසින් පස්වන මහින්ද රජතුමා අල්ලාගෙන සිරකරුවකු ලෙස දකුණු ඉන්දියාවට ගෙන යන ලදී.
(2) ක්‍රි.ව. 1017 දී ලංකාවේ උතුරු ප්‍රදේශය චෝළ අධිරාජ්‍යයේ කොටසක් බවට පත් විය.
(3) කාලිංග මාඝ ශ්‍රී ලංකාවේ අවසාන චෝළ පාලකයා විය.
(4) චෝළ පරිපාලනය යටතේ පැවති ප්‍රදේශය මුම්මුඩි ශෝල මණ්ඩලම් යනුවෙන් හැඳින්විණ.
(5) චෝළ පරිපාලන මධ්‍යස්ථානය ජනනාථමංගලම් ලෙස හැඳින්විණ. (.........)

[හතරවැනි පිටුව බලන්න.

**23. දෙවන පරාක්‍රමබාහු රජතුමා**

(1) දෙවන පරාක්‍රමබාහු රජතුමා දඹදෙණි යුගයේ සිටි ශ්‍රේෂ්ඨතම පාලකයා විය.
(2) දෙවන පරාක්‍රමබාහු රජතුමා චොං හෝ පරාජයට පත් කළේ ය.
(3) දෙවන පරාක්‍රමබාහු රජතුමා 'කලිකාල සාහිත්‍ය සර්වඥ පණ්ඩිත' යන උපාධි නාමයෙන් උපහාර ලැබී ය.
(4) දෙවන පරාක්‍රමබාහු රජතුමා බෙලිගල සිට දඹදෙණියේ පිහිටි දළදා මාලිගයට දළදා වහන්සේ වැඩම කරවී ය.
(5) දෙවන පරාක්‍රමබාහු රජතුමා දඹදෙණි කතිකාවත පිහිටුවී ය. (.........)

**24. 1817-18 බ්‍රිතාන්‍ය විරෝධී අරගලය**

(1) ඌව වෙල්ලස්ස ප්‍රදේශයෙන් ආරම්භ විය.
(2) හජ්ජි මරික්කාර් මඩිගේ මුහන්දිරම් ලෙස පත් කරනු ලැබීම අරගලය ඇතිවීමට තුඩු දුන් ආසන්න හේතුව විය.
(3) කැප්පෙටිපොල දිසාව අරගලයේ ප්‍රධාන නායකයකු විය.
(4) අරගලයෙන් පසු ජෝන් ඩොයිලි මහනුවර ආණ්ඩුවේ ඒජන්තවරයා ලෙස පත් කරනු ලැබී ය.
(5) අරගලයේ නායකයන් බ්‍රිතාන්‍ය ආණ්ඩුවේ ද්‍රෝහීන් ලෙස ප්‍රකාශයට පත් කරනු ලැබී ය. (.........)

**25. විධායක ජනාධිපතිවරයාගේ බලතල හා කාර්යයන්**

(1) සන්නද්ධ හමුදාවල සේනාධිනායකයා වීම
(2) අගමැති හා කැබිනට් මණ්ඩලයේ සාමාජිකයන් පත් කිරීම
(3) කැබිනට් රැස්වීම්වලට සහභාගි නොවීම
(4) විදේශ තානාපතිවරුන් පත් කිරීම
(5) පාර්ලිමේන්තුව විසුරුවා හැරීම (.........)

● අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A), (B), (C)** සහ **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක් හෝ** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ................................................ **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ................................................ **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ................................................ **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ................................................ **4** ද,

ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ........... **5** ද **වරහන තුළ** ලියන්න.

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**26. ධාතුසේන රජුගේ රාජ්‍ය සමය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) ෂඩ් ද්‍රවිඩයන්ගේ පාලනයෙන් පසුව ධාතුසේන රජකමට පත් විය.
(B) ධාතුසේන රජතුමා ලම්බකණ්ණ පෙළපතේ වැදගත් පාලකයකු ලෙස සලකනු ලැබේ.
(C) ධාතුසේන රජතුමා කලා වැව කරවී ය.
(D) ධාතුසේන රාජ්‍ය සමයේ දී ධම්මධාතුව ලංකාවට වැඩම කරවනු ලැබී ය. (.........)

**27. සීගිරිය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) සීගිරිය පළමුවන කාශ්‍යප රජුගේ පාලන මධ්‍යස්ථානය විය.
(B) පළමුවන කාශ්‍යප රජු සීගිරි පර්වතය මුදුනේ අත්‍යාලංකෘත මාලිගයක් ඉදි කරවී ය.
(C) මහාවංසයට අනුව පළමුවන කාශ්‍යප රජතුමා ආලකමන්දාවේ කුවේරයා මෙන් සීගිරියෙහි වාසය කළේ ය.
(D) පසු කාලයේ දී සීගිරිය ථෙරවාදී මධ්‍යස්ථානයක් බවට පත් විය. (.........)

**28. පෘතුගීසීන්ගේ ආගමික ප්‍රතිපත්තිය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) පෘතුගීසීන් කතෝලික දහම ශ්‍රී ලංකාවේ ප්‍රචාරය කළහ.
(B) ෆ්‍රැන්සිස්කන් හා ජෙසුයිට් පූජකයෝ පෘතුගීසි ආගමික කටයුතුවල මූලිකත්වය ගෙන ක්‍රියා කළහ.
(C) පෘතුගීසි බලපෑම මත හත්වන බුවනෙකබාහු රජතුමා කතෝලික ආගම වැළඳ ගත්තේ ය.
(D) කුවේරෝස් පියතුමා කතෝලික දහම ප්‍රචාරය කිරීම සඳහා ලංකාවට පැමිණියේ ය. (.........)

**29. උඩරට ගිවිසුම සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) උඩරට ගිවිසුම උඩරට ප්‍රධානීන් හා බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරයා අතර අත්සන් කරනු ලැබී ය.
(B) නායක්කර්වරුන්ට උඩරට සිංහාසනයට තිබූ අයිතිය උඩරට ගිවිසුමෙන් අහෝසි කරනු ලැබී ය.
(C) ගිවිසුමේ පස්වන වගන්තියෙන් බුද්ධාගම ආරක්ෂා කරන බවට බ්‍රිතාන්‍යයෝ පොරොන්දු වූහ.
(D) ජෝන් ඩොයිලි විසින් උඩරට ගිවිසුම කෙටුම්පත් කරන ලදී. (.........)

**30. කෝල්බෲක්-කැමරන් ප්‍රතිසංස්කරණ සම්බන්ධයෙන් පහත දැක්වෙන ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) උගත් ලාංකිකයන් වෙනුවෙන් නියෝජිතයකු ව්‍යවස්ථාදායක සභාවට ඡන්දයෙන් පත් කිරීම
(B) ජාති මූල නියෝජනය දිගට ම පවත්වාගෙන යාම
(C) ව්‍යවස්ථාදායක සභාවට මුදල් බලතල පැවරීම
(D) විධායක සභාවක් පිහිටුවීම (.........)

- අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31. අභය වැව කරවන ලද්දේ කවර පාලකයකු විසින් ද?**

(1) පණ්ඩුවාසුදේව
(2) පණ්ඩුකාභය
(3) දේවානම්පියතිස්ස
(4) වසභ
(5) පළමුවන උපතිස්ස (.........)

**32. මහින්දාගමනය සනාථ වන සෙල්ලිපිය කුමක් ද?**

(1) රජගල සෙල්ලිපිය
(2) තෝණිගල සෙල්ලිපිය
(3) පෙරිමියන්කුලම සෙල්ලිපිය
(4) පාළු මැකිච්චාව සෙල්ලිපිය
(5) ගොඩවාය සෙල්ලිපිය (.........)

**33. දඹදෙණි රාජධානියේ පළමුවන පාලකයා කවුද?**

(1) දෙවන විජයබාහු
(2) තුන්වන විජයබාහු
(3) දෙවන පරාක්‍රමබාහු
(4) පළමුවන බුවනෙකබාහු
(5) හතරවන පරාක්‍රමබාහු (.........)

**34. රන්දෙනිවල සටනේ දී මරණයට පත් වූ පෘතුගීසි කපිතාන් ජෙනරාල්වරයා කවුද?**

(1) පේද්‍රෝ ලෝපේස් ද සූසා
(2) ජෙරනිමෝ ද අසවේදු
(3) කොන්ස්තන්තීනු ද සා ද නොරොඤ්ඤා
(4) දියෝගෝ ද මෙලෝ ද කැස්ත්‍රෝ
(5) ෆ්‍රැන්සිස්කෝ ද මෙලෝ ද කැස්ත්‍රෝ (.........)

**35. 1848 සටන සිදු වූ අවස්ථාවේ දී ලංකාවේ සේවය කළ විජිත ලේකම්වරයා කවුද?**

(1) ජේම්ස් සදර්ලන්ඩ්
(2) ෆිලිප් ඇන්ස්ට්‍රෑදර්
(3) ටොරිංටන් සාමි
(4) එමර්සන් ටෙනන්ට්
(5) ජෝර්ජ් ටර්නර් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1** | නිවැරදි ය. | වැරදි ය. |
| **2** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3** | වැරදි ය. | වැරදි ය. |
| **4** | වැරදි ය. | නිවැරදි ය. |
| **5** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|---|
| **36.** | අශෝක අධිරාජයාගේ සහාය ඇතිව පවත්වන ලද අභිෂේක උත්සවයෙන් පසු තිස්ස රජතුමා දෙවනපිය නම් විරුදය ලැබී ය. | සිරිමේඝවණ්ණ රජුගේ රාජ්‍ය සමය තුළ දී දන්තධාතූන් වහන්සේ ලංකාවට වැඩම කරවන ලදී. | (.........) |
| **37.** | මහාවංසයට අනුව මහාසේන රජතුමා 'බොහෝ පින් ද බොහෝ පව් ද' රැස් කර ගත්තේ ය. | මහාවිහාරය විනාශ කරන ලද්දේ වී නමුත්, මහාසේන රජතුමා අතිදැවැන්ත ජේතවන දාගැබ සහ මින්නේරිය ඇතුළු විශාල වැව් ගණනාවක් ම කරවී ය. | (.........) |
| **38.** | වේවැල්කැටිය සෙල්ලිපිය හෝපිටිගම තිබූ වෙළෙඳ මධ්‍යස්ථානය පිළිබඳ විස්තරයක් ඉදිරිපත් කරයි. | උත්තරාරාමය, නිශ්ශංකමල්ල රජතුමා විසින් කරවන ලදැයි සැලකේ. | (.........) |
| **39.** | ලන්දේසින් විසින් මුද්‍රණ යන්ත්‍රය ලංකාවට හඳුන්වා දෙන ලදී. | දෙවන රාජසිංහ රජතුමා සියලු ම කතෝලිකයන් උඩරට රාජ්‍යයෙන් නෙරපා දැමී ය. | (.........) |
| **40.** | ඩී. බී. ජයතිලක රාජ්‍ය මන්ත්‍රණ සභාවේ ප්‍රථම කතානායක ලෙස සේවය කළේ ය. | වතු ජනසතු කිරීම, 1975 දී බණ්ඩාරනායක මැතිණියගේ ආණ්ඩුව විසින් ක්‍රියාත්මක කරනු ලැබී ය. | (.........) |

* *

25573







අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය I (II කොටස)
வரலாறு I (பகுதி II)
History I (Part II)

25 S I

**ශ්‍රී ලංකාවේ ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1978 දක්වා**

**උපදෙස්:**

* **පළමුවන** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.

(**පළමුවන** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ශ්‍රී ලංකාවේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

**1.** ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) ජම්බුකෝලපට්ටන (ii) යාන් ඔය (iii) සේරුවිල (iv) යෝධ වැව
(v) යාපහුව (vi) දෙවිනුවර (vii) මීගමුව (viii) මධ්‍යම පළාත

(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි)

**2.** දොළොස්වන සියවස අවසානය දක්වා ශ්‍රී ලාංකේය ඉතිහාසය හැදෑරීමේහිලා පහත සඳහන් මූලාශ්‍රවල ඇති වැදගත්කම පරීක්ෂා කරන්න.

(i) අභිලේඛන
(ii) පුරාවස්තු හා නටබුන්
(iii) නාණක (ලකුණු 14යි)

**3.** පහත දැක්වෙන ශීර්ෂ යටතේ අනුරාධපුර යුගයේ පැවති ආර්ථිකයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න.

(i) කෘෂිකර්මාන්තය හා වාරිමාර්ග
(ii) වෙළෙඳාම (ලකුණු 14යි)

**4.** "පළමුවන විජයබාහු හා පළමුවන පරාක්‍රමබාහු පොළොන්නරු යුගයේ සිටි ශ්‍රේෂ්ඨ නරපතියෝ වෙති."

(i) පළමුවන විජයබාහු රජතුමා සිහසුනට පත්වීමට පෙර හඳුන්වන ලද්දේ කුමන නමකින් ද? (ලකුණු 01යි)
(ii) පළමුවන පරාක්‍රමබාහු රජතුමාගේ පියා සහ මව නම් කරන්න. (ලකුණු 02යි)
(iii) මෙම රජවරුන් දෙදෙනා විසින් බුදු දහමට ඉටු කරන ලද සේවය සැකෙවින් දක්වන්න. (ලකුණු 04යි)
(iv) පළමුවන විජයබාහු හා පළමුවන පරාක්‍රමබාහු යන රජවරුන්ගේ දේශපාලන කාර්යසාඵල්‍යය තුලනාත්මකව පරීක්ෂා කරන්න. (ලකුණු 07යි)

**5.** "හයවන පරාක්‍රමබාහු රජතුමා ශ්‍රී ලංකාව එක්සේසත් කළ අවසාන පාලකයා ලෙස සලකනු ලැබේ."

(i) හයවන පරාක්‍රමබාහු රජතුමාගේ පාලන මධ්‍යස්ථානය කුමක් ද? (ලකුණු 01යි)
(ii) හයවන පරාක්‍රමබාහු රාජ්‍ය සමයේ වැඩවාසය කළ ප්‍රධාන භික්ෂූන් වහන්සේ **දෙනමක්** නම් කරන්න. (ලකුණු 02යි)
(iii) හයවන පරාක්‍රමබාහු රජුගේ සමයේ පැවති අධ්‍යාපන තත්ත්වය සැකෙවින් දක්වන්න. (ලකුණු 03යි)
(iv) හයවන පරාක්‍රමබාහු රජතුමා විසින් දිවයින එක්සේසත් කරනු ලැබීමේ ප්‍රධාන අවස්ථා විස්තර කරන්න. (ලකුණු 08යි)

**6.** කීර්ති ශ්‍රී රාජසිංහ රජතුමාගේ දේශපාලන හා සංස්කෘතික කාර්යසංසිද්ධිය ප්‍රමාණ කරන්න. (ලකුණු 14යි)

**7.** දහනවවන සියවසේ දෙවන භාගයේ ඇති වූ සංස්කෘතික පුනර්ජීවනය හා සම්බන්ධ පහත දැක්වෙන මාතෘකා අතුරෙන් **එකක** වැදගත්කම සාකච්ඡා කරන්න.

(i) බෞද්ධ පුනර්ජීවනය (ලකුණු 14යි)
(ii) හින්දු හා ඉස්ලාමීය පුනර්ජීවනය (ලකුණු 14යි)

[ අටවැනි පිටුව බලන්න.

**8.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** සෝල්බරි ආණ්ඩුක්‍රමයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. (ලකුණු 14යි)

**(B)** 1972 ජනරජ ව්‍යවස්ථාවේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. (ලකුණු 14යි)

**9.** පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑ ම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) අනුරාධපුර යුගයේ දකුණු ඉන්දීය ආක්‍රමණ

(ii) ගම්පොළ රාජධානිය

(iii) යාපනය රාජධානිය හා පෘතුගීසීන්

(iv) මුහුදුබඩ පළාත්වල ලන්දේසීන් අනුගමනය කළ ආර්ථික ප්‍රතිපත්තිය

(v) දහනවවන සියවස තුළ බ්‍රිතාන්‍යයන් යටතේ කෝපි වතු වගාව

(vi) ලංකා ජාතික සංගමය

(එක් සටහනකට ලකුණු 07 බැගිනි)

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2017 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2017 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2017

ඉතිහාසය I
வரலாறு I
History I

25 S

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. 1

විභාග අංකය / சுட்டெண் / Index No. ..............................



